# කච්චර ෂිරන්සි
# සහ
# සුන්දර කරාෂාස්

## කසකස්ථාන් ජනකථාවකි

කසකස්ථානය වර්තමානයේ මධ්‍යම ආසියානු රාජ්‍ය ගොන්නට අයත් වේ.
රුසියාවේ සිට විහිදී යන ස්ටෙප්ස් භූමි තැනිතලාව කසකස්ථානය දක්වා විහිදේ.
අතීතයේ සිට විවිධ එඬේර ගෝත්‍රිකයන්ට මෙම ප්‍රදේශය වාස භූමියක් විය.

චිත්‍ර
**ඇලෙක්සැන්ඩර් කොෂ්කින්**

ඉංග්‍රීසි බසින් සිංහල භාෂාවට පරිවර්තනය කළේ
**අතුල අදිකාරි**



එකමත් එක කාලයක ෂිරන්සි නම් කවියෙක් ස්ටෙප්ස් භූමියේ වාසය කළා. බාල මහළු හැම කෙනෙක්ම ෂිරන්සි පිළිබඳව දැන සිටියා. ස්ටෙප්ස් භූමියට අයත් මෙම කසාත් මිටියාවතේ වාසය කළ සුනඛයින් පවා ඔහුගේ නම උච්චාරනය කරමින් බුරන බව කසාත්වාසීන් පැවසුවා. ඔහු එතරම්ම ජනප්‍රියයි.

උත්සව සහ සාදයන් පැවැත්වෙන විට ෂිරන්සි මිහිරි ලෙස ගීත ගායනා කරමින් ජනතාව කුල්මත් කළා. එබැවින් නිරන්තරව අමුත්තෙකු ලෙස තමන්ගේ නිවෙස් වෙත පැමිණෙන ලෙස ඔහුට ආරාධනා ලැබුණා. ඔහු ගායනා කරන මිහිරි ගීත, එසේම පවසන පුරාවෘත්ත ඇසීමෙන් මිනිසුන්ගේ සිත් සතන් තුළ උණුසුම් හැඟීම් පහළ වුණා. එයින් ඔවුනට සැනසිල්ල සහ ප්‍රීතිය ලැබුණා. මේ අවස්ථාවන්හි දී ත්‍යාග ලෙස පොහොසත් ගැමියන් වෙතින් කාසියක්, බැටළුවෙක් හෝ රෙදිපිලි ලැබුණු අතර දුප්පත් ගැමියන්, මිලට් ධාන්‍ය මල්ලක් හෝ මුදවාපු කිරි ස්වල්පයක් ලබා දුන්නා.

දිනක් ෂිරන්සි සහ ඔහුගේ මිතුරන් ස්ටෙප්ස් මිටියාවත ඔස්සේ අසුන් පිට ගමන් කරද්දී වැස්සක ලකුණු පහල වුණා. වැස්සට පෙර රාත්‍රියේ නැවතීමට සුදුසු තැනක් සොයාගැනීමට ඔවුන් යුහුසුළු වුණා. ක්‍රමයෙන් ගං ඉවුරක් ආසන්නයට ළඟා වුණා. එහිදී ගඟෙන් එගොඩ පිහිටි ගම්මානයේ තිබෙන කූඩාරම් ඔවුනට දක්නට ලැබුනා. මේ අතර ගංඉවුරේ වේලුනු ගොම මලුවලට එකතු කරමින් සිටින තරුණියන් පිරිසක්ද අසරුවන්ට මුණ ගැසුනා. මෙම ප්‍රදේශයේ වාසය කරන මිනිසුන් ලිපගිනි දැල්වීම සඳහා වියළි ගොම භාවිත කරනවා.

අසරුවන් පිරිස තරුණියන් පිරිසට ආචාරශීලි ලෙස සුභ පතා ගඟෙන් එතෙර වීමට පහසු ස්ථානයක් පිළිබඳ විමසා සිටියා. තරුණියන් පිරිසේ සිටි සුන්දර යුවතියක් වූ කරාෂාස් මෙසේ කියා සිටියා.

"ගඟෙන් එතෙර විය හැකි ස්ථාන දෙකක් තිබෙනවා"යැයි පවසමින් ඒවා දෙසට ඇඟිල්ල දිගු කරා. "වම් පස ඇති ස්ථානය සමීපයි, නමුත් දුරයි. දකුණු පස ඇති ස්ථානය දුරයි නමුත් සමීපයි" යනුවෙන් කියා සිටියා. ෂිරන්සිගේ මිතුරන් කඩිමුඩියේ ගඟෙන් එතෙර වීමට වම් පස ඇති මාර්ගය තෝරාගත්තා.නමුත් ෂිරන්සි, තරුණිය පැවසූ වදන් හි සැඟවුනු අරුත තේරුම් ගනිමින් දකුණට යොමු වූ මාර්ගය ගඟෙන් එතෙර වීමට තෝරා ගත්තා.

තරමක් දීර්ඝ වුවත් ගඟෙහි වැලි සහිත නොගැඹුරු ස්ථානයන් ඔස්සේ වැටී තිබූ එම මඟ පහසුවෙන් තරණය කල ෂිරන්සි වර්ෂාවට පෙර එහා ඉවුරේ පිහිටි ගමෙහි කූඩාරම් ඇති ප්‍රදේශයට ළඟා වුණා.

මේ අතර ඉක්මන් තීරණයකට එළඹුනු ඔහුගේ මිතුරන්ට දුෂ්කර තත්වයකට මුහුණ දීමට සිදු වී තිබුණා. ගඟෙහි ජලය ගලා බසින ප්‍රදේශයට ඔවුන් ඉක්මනින් ළඟාවුනත් ගඟ හරහා යාමට තිබුනු මග එරෙන සුළු මඩ සහිත ප්‍රදේශයක් විය. මේ නිසා ගඟ තරණය කිරීමෙ දී අසුපිටින් බැස තෝන් ලණුවෙන් අසුන් අල්ලාගෙන, මඩ ගොහොරුවලින් එතෙර වීමට සිදු වුණා.ගම්මානයේ කූඩාරම් අසලට ළඟාවන විට ඔවුන් වර්ෂාවට තෙමී විඩාපත්ව සිටියා. ෂිරන්සි තම මිතුරන් එනතෙක් විවිධ ප්‍රමාණයේ කොටස් එකිනෙකට සම්බන්ධ කර ලොම්වලින් සාදන ලද රෙද්දකින් පිළියෙල කරගත් කූඩාරමක් අසල බලා සිටියා. මෙම කූඩාරම ඔවුනට මග පෙන්වූ කරාෂාස්ගේ දෙමව්පියන්ට අයත් බව ෂිරන්සි අනුමාන කළා. කරාෂාස් ඇඳුමින් පැළඳුමෙන් දුගී බවක් පෙන්නුම් කළත් ඇගේ අනෙකුත් යෙහෙළියන් අතරේ දී සුන්දරත්වය නිසා ඇය කැපී පෙනුනා.

කූඩාරමෙන් පිටතට පැමිණි කරාෂාස්ගේ මව අමුත්තන්ව පිළිගත්තා. ඔවුන් අසු පිටින් බැස සැදෑලයන් ඉවත් කර අසුන් ලිහා දැමුවා. අමුත්තන්ට හිඳ ගැනීමට බැටළු සමක් කරාෂාස්ගේ මව ඇතිරුවා. මේ අතරතුර ගොම එකතු කිරීමට ගිය තරුණියන් පිරිස ගමට පැමිණියා. ඔවුන් එකතු කළ වියළි ගොම සහිත මලු සියල්ල වැස්සට තෙමී තිබුණා. තෙත්වූ ගොම යොදා ලිප් දැල්විය නොහැකි බැවින් එදින රාත්‍රී ආහාරය නිවැසියන්ට පිළියෙල කළ නොහැකි වුණා. දෙමව්පියන්ගේ දෝෂාරෝපනයට තරුණියන් පිරිස ලක් වුණා. කරාෂාස් පමණක් ගිනි දැල්වීමට සුදුසු ලෙස වියළි ගොම රැගෙන විත් තිබුණා. එම ගොම මගින් දල්වන ලද ගින්දරෙන් උණුසුම් වෙමින්, තමන්ගේ තෙමුණු ඇඳුම් වියලා ගනිමින් සිටි අසරුවන් පිරිස "ඔබ පමණක් වියළි ගොම රැගෙන ආවේ කෙසේද? යැයි කරාෂාස්ගෙන් විමසුවා."වැස්ස පටන් ගන්නා විට මා එකතු කරගත් වියළි ගොම සහිත පැස මගේ ඇඳුමෙන් මුවා කරගත්තා. තෙමුණු ඇඳුම පසුව ගින්දරෙන් වියළා ගත හැකියි" යනුවෙන් පිළිතුරු දුන්නා.

පොහොසත් මිනිසෙකුගේ සතුන් රංචුවක් බලාගන්නා සිය පියා කූඩාරමට එන විට, බොහෝ විට වර්ෂාවට තෙමී කුසගින්නේ පැමිණෙනේ, එවිට ආහාර පිසීමට සහ උණුසුම් වීමට, වියළි ගොම අවශ්‍යම දෙයක් බැවින්, ඒවා වැසි දියෙන් නොතෙමා රැගෙන ආ යුතු බව ඇය දැන සිටියා.නමුත් ඇයගේ මිතුරියන් කර තිබුනේ වෙනස් දෙයක්. ඔවුන් තමන් රැස් කරගත් වියළි ගොම සහිත මල්ල වර්ෂාවෙන් තමන් නොතෙමී සිටීමට හිස මත තබා ගෙන යාම නිසා අසුලාගත් ගොමත් ඔවුන්ගේ ඇඳුම් යන සියල්ලම වැස්සට තෙමී තිබුණා.

අමුත්තන් කරාෂාස්ගේ නුවණැතිභාවය ගැන සන්තෝෂයට පත් වුණා. අමුත්තන් ඔවුනගේ රාත්‍රී ආහාරය ගැන කල්පනා කළා. මෙම දුගී කූඩාරමේ වාසය කරන පවුලට කෙසේ නම් පිරිසකට හොඳ ආහාරයක් සැපයිය හැකිද? අමුත්තන්ගේ සැකය කරාෂාස්ට වැටහුනා.

“මගේ පියා දුප්පතෙක් වුවත් කිසි දිනක නිවසට පැමිණෙන අමුත්තන් කුසගින්නේ තබන්නේ නෑ. ඔබලාගේ ආහාරය වෙනුවෙන් හැකි වුවහොත් බැටළු නාම්බෙක් හෝ එසේ නොමැති නම් බැටළු පැටවු දෙදෙනෙක් හෝ මරා ආහාරය සපයාවි”යනුවෙන් කරාෂාස් අමුත්තන්ට පැවසීය. ෂිරන්සිට පමණක් ඇය පැවසූ වදන්හි අරුත වැටහුනා. අනෙක් අය එය විහිළුවක් ලෙස සිතුවා. සවස් යාමයේ සතුන් රංචුව සමග ගම්මානයට පැමිණි කරාෂාස්ගේ පියා සතුන් පට්ටිය අයිති පොහොසත් තැනැත්තා මුණ ගැසී සිය කූඩාරමට පැමිණි අමුත්තන්ට සංග්‍රහ කිරීම සඳහා හොඳට වැඩුණු බැටළු නාම්බෙක් ඉල්ලා සිටියා. පොහොසත් මිනිසා ඉල්ලීම ප්‍රතික්ෂේප කර ඔහුව පන්නා දැමුවා. මේ නිසා තමන්ට අයිති එකම බැටළුවා අමුත්තන්ගේ ආහාරය සඳහා මරන්න සිදු වුණා. එයින් රසවත් ආහාර වේලක් අමුත්තන්ට පිළිගන්වන්න පුළුවන් වුණා.

රාත්‍රී ආහාරය අවසන් වූ පසු ෂිරන්සි ඔහුගේ “දොම්බරාව” නැමැති වීණාව වයමින් ගීතයක් ගායනා කරන්න පටන් ගත්තා. ගීතයෙන් කියවුණු අර්ථය මෙසේය.

“සියලු හොඳ දේ බෙදා දෙනු පිණිස ධනවතුන් පළමුව නැගී සිටියා යන්න අසත්‍යයකි.

ඔවුනට පෙර මා ෂිරන්සි නැගී සිටිමුත් කිසිත් නොලැබිණි
ගවයන් බැටළුවන් කිසිත් නැත
කිසිදු මා සතු වස්තුවක් නොමැත
මා සතු එකම වස්තුව දොම්බරාවයි.”

ගීතය ඇසූ නිවසේ උදවිය ගීතය ගායනා කරන ලද අමුත්තා අන් කිසිවෙක් නොව ප්‍රසිද්ධ කවියෙක් සහ ගායකයෙක් වූ ෂිරන්සි බව වටහා ගත්තා. රාත්‍රී ආහාරය ගනිද්දී ෂිරන්සිගේ සහ කරාෂාස් දෑස් එකිනෙකට හමු වුණා. දෑස්වලින් කරන කථා බහෙන් එකිනෙකාව තේරුම් ගත්තා. ෂිරන්සි ඔහුගේ දෑතින් සිය

ළය ප්‍රදේශය ස්පර්ශ කළා. එයින් අදහස් වූයේ කරාෂාස්ගේ සුන්දරත්වය සහ බුද්ධිමත් බව ඔහුගේ හදවත දිනාගත් බවයි. ඔහුගේ ක්‍රියාවේ අරුත ඇය එක් වරම වටහා ගෙන ඇගේ ඇඟිලි තුඩු මගින් සිය දෑස් ස්පර්ශ කළා. එයින් අදහස් වූයේ ඔහුගේ හැඟීම් ඇයට සැඟවිය නොහැකි බවයි. අනතුරුව ෂිරන්සි සිය හිසේ කෙස් පිරිමදිමින් ඇය දෙස බැලුවා. ඉන් අදහස් වූයේ ඇගේ පියා හිසේ ඇති කෙස් ප්‍රමාණයට විශාලත්වයෙන් යුත් බැටළු රංචුවක් විවාහයේ දෑවැද්ද ලෙස බලාපොරොත්තු වන්නේද යන්නයි. ඔවුන් ජීවත් වූ ප්‍රදේශයේ විවාහයක දී මනාලියගේ පියා මනාලයාගෙන් හොඳ තෑග්ගක් ලබා ගැනීම විවාහ චාරිත්‍රයක් වුණා. කරාෂාස් නැවතත් බැටළු සම පිරිමැද්දා. ඉන් අදහස් වූයේ සිය පියාට බැටළුවෙකුගේ ලොම් සංඛ්‍යාවට සමාන විශාලත්වයෙන් යුත් හරක් රංචුවක් ලබා දුන්නත්, පියාගේ එකඟත්වය නොලැබෙන බවයි. ෂිරන්සි ලැජ්ජාවෙන් බිම බලා ගත්තා.

ඔහු සතු දේපළ වූයේ, අශ්වයෙක්, දොම්බරාව සහ දුගී කූඩාරමක් පමණක් වීම එකී ලැජ්ජාවට හේතුවයි. කරාෂාස් ඔහුව අස්වැසුවා. ඇය බැටළු සම අනික් පස හරවා එහි කෙළවරක තිබෙන සිනිඳු ප්‍රදේශය සෙමෙන් පිරිමැද්දා. එයින් අදහස් වූයේ සිය පියා දියණියගේ හදවත දිනාගන්නා තැනැත්තාට ඇයව විවාහ කර දීමට ඉදිරිපත් වන බවයි. කරාෂාස්ගේ පියා සිය දියණිය සහ ෂිරන්සි අතර විවිධ සංඥා මගින් සිදු කළ කථාබහ දුටුවා.

තරුණ තරුණියන් එකිනෙකා හා ආදරයෙන් බැඳෙන බව ඔහු තේරුම් ගත්තා. තමන් වාසය කරන ප්‍රදේශයේ සාමාන්‍ය මිනිසුන් ෂිරන්සි නම් කවියාට දක්වන ආදරය සහ කැමැත්ත තේරුම් ගත්තා. ෂිරන්සි කරාෂාස්ගේ පියා වෙත ගොස් ඇය විවාහ කර ගැනීමට ඔහුගේ ඇති කැමැත්ත ප්‍රකාශ කරා.

"සෑම මනාලියක්ම උපත ලබන්නේ ඇගේ මනාලයා වෙනුවෙන්" යැයි කී කරාෂාස්ගේ පියා "දියණියක් නමුත් සිය දෙමාපියන්ගේ නිවසට අමුත්තියක්" යැයි ප්‍රකාශ කර තරුණ යුවලගේ දෑත් එක් කර ඔබ දෙදෙනාට මම ඉතසිතින් සුභ පතනවා. එපමණයි මට දීමට ඇත්තේ, යනුවෙන් සුභාශිංසනය කළා.

ෂිරන්සි බලාපොරොත්තු වූ ආකාරයේ යුවතියක් ඔහුට ලැබුණා. සිය තරුණ බිරිඳ සමග තමාගේ කූඩාරමේ වාසය කිරීමට ඔවුන් දෙපළ තීරණය කළා. ඔවුන්ගේ විවාහ ජීවිතය ප්‍රීතිමත්ව ගෙවී ගියා. නැණවත් සැමියා සිය බිරිඳ පිළිබඳව තමන් වර්ණනා නොකරයි. ෂිරන්සීද කරාෂාස් පිළිබඳව ගීත ගායනා නොකළේය. නමුත් අනෙක් කවියන් ඇයව වර්ණනා කරමින් ගීත ගැයුවෝය. කරාෂාස්ගේ සුන්දරත්වය සහ ගුණවත් බව සඳහන් වූ ගීත මිටියාවත පුරා ප්‍රචලිත විය. එම ප්‍රදේශයේ පාලකයා වූ ඛාන්ගේ මාළිගයටද මේ පිළිබඳ තොරතුරු ලැබිණ. ඛාන්ට දුප්පත් ෂිරන්සි පිළිබඳව මහත් ඊර්ෂ්‍යාවක් ඇති විය.

ඔහු තරුණ යුවලගේ කූඩාරමට පණිවිඩකරුවෙකු පිටත් කළ අතර තමා මුණ ගැසීමට පැමිණෙන ලෙස ඔවුන්ට දන්වා යැවීය. ඛාන්ගේ බල පරාක්‍රමය ඔවුන්

වාසය කළ සුවිසල් මිටියාවත පුරා පැතිර තිබුණෙන් ඔහුගේ අණට කීකරු වීම හැර වෙනත් විකල්පයක් නොතිබුණි.

ෂිරන්සි සහ කරාෂාස් ඛාන්ගේ මැදුර වෙත ළඟා වුනි. කඳු මුදුනක පිහිටි එම මැදුර වටා දහස් ගණන් සුදු කූඩාරම් දක්නට ලැබුණි. ඒවායේ ඛාන්ගේ ආවතේවකරුවන්, යුධ සෙබළුන් සහ පිරිවර ජනයා වාසය කළෝය.

කරාෂාස්ගේ සුන්දරත්වය දුටු ඛාන් තුෂ්නිම්භූත විය. ඇයගේ මන බඳින සිහින් සිරුර, පැහැපත් ආඩම්බරකාරි මුහුණ ඛාන් විස්මයට පත් කළේය. මෙවැනි සුන්දර, නැණවත් කාන්තාවක් කෙසේ මේ දුප්පත් කවියාට හිමිවුණිද? යන හැඟීම ඔහුට පහළ විය.

ෂිරන්සි, කරාෂාස්ගේ සමීප ඇසුරින් ඉවත් කළ හැකි අයුරක්, විමසා බලන ලෙස සිය ඇමතිවරුන්ට අණ කළා. ඇමතිවරුන්ගේ උපදෙස් පරිදි ඛාන්, ෂිරන්සි මාළිගයේ අත්අඩංගුවට පත් කර නොයෙක් දුර ප්‍රදේශයන්හි විවිධ රාජකාරි සඳහා යෙදවූවා.

කරාෂාස්, සැමියාගෙන් දුරස් වූවත් ක්‍රියා කළ යුතු ආකාරය පිළිබඳව සැමියාට උපදෙස් දුන්නා. සැමියා හා බිරිඳ එකිනෙකා හා සෙනෙහසින් සමීපව සිටීමට, ජීවිතය පුරාම ඉඩ නොලැබෙන බව පවසමින් ඔහුව සැනසුවා.

කොතරම් දුර බැහැර ප්‍රදේශයන්ට යාමට සිදුවූවත් ෂිරන්සිට කෑමෙන් සහ බීමෙන් හිඟයක් වුණේ නෑ. ඔහුගේ කවීත්වයට, හාස්‍ය රසය දනවන රසවත් කථා කියා දීමේ දක්ෂතාවය නිසා ජනතාව ඔහුට ආදරය කළා. දුර බැහැර ගොස් නැවත පැමිණෙන අවස්ථාවන්හී දී සිය කූඩාරමට ගොස් කරාෂාස්ව දකින්නට ඔහුට ඉඩකඩ ලැබුණා.

ෂිරන්සි සිය බිරිඳගෙන් ඈත් කිරීමට යෙදූ උපාය සඵල නොවන බව වටහා ගත් ඛාන්ට ෂිරන්සි කෙරෙහි ඇති වූ කෝපය සහ පිළිකුල උත්සන්න වුණා. "කරාෂාස් වැනි සුන්දර කතකට කෙසේ නම් ආහාර පිසිය හැකිද? එයින් ඇගේ දෑත් අවලස්සන විය හැකියි. ඇයට තමා අනුභව කරන ප්‍රනීත ආහාර ලබා දිය යුතුයි. පැණි බේරෙන දිඹුල් ගෙඩි ඇය කිසි දිනක රස බලා නැතුව ඇති. මෙවැනි සුන්දර කතකගේ සැමියා විය යුත්තේ ෂිරන්සි නොව මමයි." යනුවෙන් ඛාන් කල්පනා කරා.

එක් සුළං සහිත දිනයක ඛාන් ඔහුගේ පිරිවර ජනයා සමග සිය ඉඩකඩම් බැලීමට ගියා. සුළඟ නිසා කරකැවෙන තණ පඳුරු සුළි ආකාරයෙන් කරකැවෙමින් තිබුණා. අර පෙනෙන තණකොළ සුළි, අල්ලා ගෙන ඒවා කවදා හටගත්තක් ද, කොහේ සිට පැමිණියාද යන්න මට කිව යුතුයි. එය නොහැකි වුවහොත් ඔබට ජීවිතයෙන් වන්දි ගෙවීමට සිදු වන බව ඛාන් ෂිරන්සිට තර්ජනාත්මකව පැවසුවා.

ෂිරන්සි එක් තණකොළ පඳුරක් අල්ලා ගෙන හෙල්ලකින් එයට ඇන, එය රැගෙන ඛාන් වෙත ගෙන ගියා.

හොඳයි තණකොළ මිටිය කුමක්ද පැවසුවේ ෂිරන්සිගෙන් ඛාන් ඇසුවා. ෂිරන්සි මෙසේ පිළිතුරු දුන්නා.

"අනේ ඛාන් උතුමාණෙනි තණකොළ මිටියෙන් ලැබුණු පිළිතුර මෙයයි. මා කොහේ සිට පැමිණියාද දන්නේ සුළඟයි. එසේම මා නවතින තැන දන්නේ අර කඳු අතර පවතින දෙණියයි. මෙවැනි ප්‍රශ්ණ අසන ඔබ මෝඩයෙක් විය යුතුයි. නැතිනම් එවැනි ප්‍රශ්න ඇසීමට ඔබව එවන ඛාන් මෝඩයෙකු විය යුතුයි."

ඛාන් කිසිදු පිළිතුරක් නොදී දැඩි කෝපයෙන් නික්ම ගියා.

සරත් ඍතුව එළඹුනා. ඛාන් සහ ඔහුගේ ඇමතිවරුන් ෂිරන්සි අනතුරේ හෙළන්න වෙනත් උපක්‍රමයක් කල්පනා කළා. මෙවර ඛාන් ෂිරන්සිට පැමිණෙන ලෙස අණකර හොඳින් වැඩුනු පිරිමි බැටළුවන් හතලිහක ප්‍රමාණයක් ලබාදී මෙසේ පැවසුවා.

"මම ඔබට එළඹෙන සීත ඍතුව පුරා රැකබලා ගැනීමට පිරිමි බැටළුවන් හතලිස්දෙනකු ලබාදෙනවා. ඊළඟ වසන්තයේදී ඔවුන්ගෙන් පැටව් නොලැබුනොත් ඔබේ හිස ගසා දමනවා" යැයි තර්ජනය කලා.

ෂිරන්සි බැටළුවන් රංචුව ඔහුගේ කූඩාරම වෙත රැගෙන ගියා. ඛාන්ගේ අළුත් නියෝගය ෂිරන්සිගේ සිතට මහත් පසුතැවිල්ලක් ගෙන දුන්නා.

"සුළු දේවල් ගැන කණගාටු වී පලක් නෑ. සීත ඍතුවේදී අපි මේ බැටළුවන් මරා ආහාරයට ගනිමු. ඊළඟ වසන්තයේදී අපි ඛාන්ව නැවතත් රවටාගන්න බලමු" යැයි කරාෂාස්, ෂිරන්සිව අස්වසමින් පැවසුවා. කාලය ගෙවී ගියා. වසන්තය පැමිණියා. අශ්වයෙක්ගේ පිට පැමිණි ඛාන්ගේ පණිවිඩකරුවෙක් පිරිමි බැටළුවන්ට පැටව් ලැබුනාද බැලීමට ඛාන් පැමිණෙන බව දැනුම් දුන්නා.මෙවර නම් මරණයෙන් ගැලවීමක් නොමැති බව ෂිරන්සිට වැටහුනා.

"ආදරණීය ෂිරන්සි කනගාටුවෙන්න එපා ඔබ මේ තැනිතලාවේ තැනක සැඟවී සිටින්න සෑම දෙයක්ම හොඳ අතට හැරේවි" යැයි කරාෂාස් පැවසුවා.

ෂිරන්සි කරාෂාස් කිවූ පරිදි මිටියාවතේ ඈත ස්ථානයකට ගොස් සැඟවී සිටියා. ටික වේලාවකින් අශ්වයින්ගේ කුර ගැටෙන හඬ කරාෂාස්ට ඇසුනා. කූඩාරමෙන් එළියට පැමිණ බැලූවිට ඛාන් සමඟ පැමිණි යුධ සෙබළුන් කූඩාරම වට කර සිටින බව දුටුවා."ඔබේ ස්වාමිපුරුෂයා කොහෙද? ඇයි ඔහු මාව මුණ ගැසීමට නොපැමිණියේ? යනුවෙන් ඛාන් ප්‍රශ්න කරා. කරාෂාස්, ඛාන්ට හිස නමා ගෞරව පූර්වකව ආචාර කළා.

"ඛාන් උතුමාණනි මගේ අවාසනාවන්ත ස්වාමිපුරුෂයාට අනුකම්පා කරන්න. ඔහු නිවසින් බැහැරව ගියේ ඔබට ගෞරව පූර්වකව සලකනු පිණිසයි, ඔබතුමා අප නිවසට එන ආරංචිය ලද විගස ඔහු දුක් වුණා, නිවසට පැමිණෙන අමුත්තන්ට සලකන්නේ කොහොමද කියලා. මගේ පුරුෂයා, ඔහු හීලෑකර ඇති

කරන වටුවාගෙන් කිරි දොවා ඔබතුමාට එයින් කුමිස්[1] පිළියෙල කර රැගෙන එන්න මිටියාවතට ගියා. ඛාන් උතුමාණෙනි අපේ කූඩාරමට පැමිණෙන්න. මගේ ස්වාමිපුරුෂයා පැමිණ ඔබතුමාට සලකයි."

"කාලකණ්ණි ගෑනි උඹ මට සමච්චල් කරනවද? වටුවෙක්ගෙන් කිරි දොවන්න පුළුවන් කියලා අහල තියෙනවද?" යනුවෙන් ඛාන් කෝපයෙන් කෑගසමින් පැවැසීය.

"ඛාන් උතුමාණෙනි ඔබතුමා පුදුමයට පත් වුණාද?" යනුවෙන් කරාෂාස් අහිංසක ලෙස පැවැසුවා.

"එවැනි ආශ්චර්යයන් සිදුවෙන බව ඔබ දන්නේ නැද්ද? මෙය ඔබතුමා ලබාදුන් පිරිමි බැටළු නාම්බන්ට පැටව් ලැබෙනවා වැනි දෙයක් නෙවෙයි"

මහත් ලැජ්ජාවට සහ කෝපයට පත් ඛාන් තම අත තිබූ කසයෙන් අසුට තදින් පහරක් එල්ල කර එම ස්ථානයෙන් කඩිනමින් නික්ම ගියා.

එතැන් පටන් කිසි දිනක ඛාන් ෂිරන්සිව නැවත සිය මාලිගයට කැඳවූයේ නැහැ. ඉන්පසු ඔවුන් දෙපලගේ ජීවිතය ප්‍රිතිමත්ව මහළුවිය දක්වා ගෙවී ගියේය. නමුත් සෑම මනුෂ්‍ය ජීවිතයක්ම අවසානයකට පැමිණෙනවා. සෑම අයෙක්ම නැවත නොඑන අවසන් ගමනක යනවා. ෂිරන්සි දඩයමට නිවසින් පිටව ගොස් සිටි අවස්ථාවක කරාෂාස් මිය ගොස් තිබුණා. ෂිරන්සිගේ මිතුරන් ඇයගේ මරණය පිළිබඳව දැනුම්දෙන්න අසුන් පිට ඔහුව සොයා නික්මුණා. ඔවුනට තරමක් ඈතින් ෂිරන්සි දක්නට ලැබුණා. ඔහු අසු පිට ප්‍රීතිය දනවන ගීතයක් මුමුනමින් සෙමෙන් ගමන් කරමින් සිටියා. දඩයම් කර ගන්නා ලද පාත්තයන් කිහිප දෙනෙක් සැදෑලයෙන් පහළට එල්ලී තිබුණා. ෂිරන්සිගේ මිතුරන් පිරිස ගිනිමැලයක් දල්වා එය වටා හිඳගෙන ෂිරන්සි හා කතා බහක යෙදෙන්න තීරණය කළා. ක්‍රමයෙන් ශෝක ජනක පුවත ඔහුට දැන්විය යුතු යයි ඔවුන් සිතුවා.

"ෂිරන්සි ඔබේ හැකියාව සහ බුද්ධිමත්භාවය ගැන බොහෝ දුර බැහැර ප්‍රදේශයන්හි පවා පැතිර තිබෙනවා එසේනම් අප අසන මේ ප්‍රශ්නයන්ට ඔබේ පිළිතුර ලබාදෙන්න "යනුවෙන් මිතුරෙක් පැවසුවා.

පළමුවෙන් අපට පවසන්න, පියා මිය ගියහොත් මිනිසෙකුට කුමක් අහිමි වේද?

"උපද්‍රවයන්ගෙන් ආරක්ෂාවීමට බලකොටුවක පවතින පවුරු වළල්ල බිමට සමතලා වුණාසේ සමානයි"

හොඳයි අපි එය පිළිගන්නම්. එසේනම් මිනිසෙකුට සිය මව අහිමි වුවහොත් කුමක් සිදුවේද?

"කෙනෙකුට සිය මව අහිමි වීම යනු ඔහු පෝෂණය කළ ස්නේහයේ උල්පත සිඳී වියළී ගියා හා සමානයි"යනුවෙන් ෂිරන්සි පිළිතුරු දුන්නේය.

1 කුමිස් යනු කිරිවලින් පිළියෙල කරන ආහාරයකි.

හොඳයි අපි එය පිළිගන්නවා යැයි මිතුරන් පැවැසීය. එසේනම් සහෝදරයකු මිය යාම ඔබ සමාන කරන්නේ කුමකටද?

සහෝදරයකු මිය යාම ඔහුට ලැබෙන ආධාර උපකාර අහිමිවීම හා සමානයි යනුවෙන් ෂිරන්සි පිළිතුරු දුන්නේය. නැණවත් ෂිරන්සි අවසාන වශයෙන් මෙයට පිළිතුරු ලබාදෙන්න. මිනිසෙකුට තමාගේ ආදරණීය බිරිඳ අහිමි වීම කුමන තත්ත්වයක් ඇති කරයිද?

"මාගේ කරාෂාස් මියගියා" යනුවෙන් කෑගැසූ ක්ෂණයෙන් ෂිරන්සිගේ ජීවය රහිත සිරුර බිම පතිත විය.

කරාෂාස් සහ ෂිරන්සිගේ සිරුරු ඔවුන් වාසය කළ මිටියාවතේ මිහිදන් කරන ලදි. අදත් එම ස්ථානය මිටියාවතේ දිවෙන මාර්ගයක් අසල දක්නට පුළුවන.

